



ලියෙව් තොල්ස්තෝයි

# යාළුවෝ දෙදෙනෙක්





ලියෙව් තොල්ස්තෝයි

# යාළුවෝ දෙදෙනෙක්



චිත්‍ර - එම්. ස්කොබ්ලෙව්
අනුවාදය - සුමින්ද චම්පික




කඩුල්ල ප්‍රකාශන
www.kadullabooks.com

# යාළුවෝ දෙදෙනෙක්

යාළුවො දෙන්නෙක් දවසක් කැලයක් මැදින් ගමනක් යනකොට, එක පාරටම වළහෙක් මේ දෙන්න ඉස්සරහට එනවා දැක්කා. එතකොටම දෙන්නගෙන් එක්කෙනෙක් දුවලා ගිහින් ළඟ තිබුණු ගහකට නැගලා හැංගුණා.

කලබල වුණු අනිත් යාළුවා, කරන්න ඕන මොනවද කියල හිතාගන්න බැරුව එතනම බිම නිදාගත්තා. හරියට මැරිලා වගේ.

වළහා එයා ළඟට ඇවිත් ඉව කරන්න පටන් ගත්තා. යාළුවා ගලක් වගේ නොසෙල් වී හිටියා. හුස්ම ගන්නෙත් නැතුව. මූණත් හොඳට ඉව කරපු වළහා එයා මැරිලයි කියලා හිතලා එතනින් යන්න ගියා. වළහා ගියාට පස්සේ ගහෙන් බැහැපු යාළුවා හිනාවෙලා බිම හිටපු යාළුවගෙන් ඇහුවා.

"හොඳයි මොනවද වළහා ඔයාගේ කනට කෙඳිරුවේ" කියලා.

එයා මෙන්න මෙහෙම උත්තරයක් දුන්නා, "අනතුරකදී තමන්ගේ යාළුවො අත්හැරලා දුවන්නෙ අන්තිම නරක මිනිස්සු කියලයි වළහා කිව්වෙ."



# උයන්පල්ලාගේ පාඩම

එක දවසක වයසක උයන්පල්ලෙකුට වුවමනා වුණා එයාගේ දරුවන්ට එයාගේ රැකියාව උගන්වන්න. ඉතින් එයාට එයාගේ ජීවිතේ අවසන් කාලය ආපු බව දැනුනම, එයා එයාගෙ දරුවො ටික එයා ළඟට කැඳෙව්වා. කැඳවලා මෙහෙම කිව්වා.

"දරුවනේ , මං මැරුණම ඔයාලට සිද්ධ වෙනවා ඔය මිදි යායේ හැංගිලා තියෙන දේ හොයාගන්න."

පුත්තු හිතුවා මිදි යායේ කොහේ හරි හංගලා තියෙන නිධානයක් ගැන තමයි මේ තාත්තා කියන්නෙ කියලා. ඉතින් තාත්තගෙ මරණින් පස්සේ හැමෝම එකතුවෙලා මිදියාය හාරන්න පටන්ගත්තා. ඒත් එයාලට ලැබුණු නිධානයක් නම් නෑ. හැබැයි ඒ කරපු වැඩේ නිසා මුළු වත්තෙම පස් හොඳට බුරුල් වෙලා හොඳ සරු මිදි අස්වැන්නක් නම් ලැබුණා.

එයාල ඒ මිදි වලින් වයින් හදලා විකුණලා හොඳට පොහොසත් වුණා.



# මගියෝ

එක දවසක් මහලු පුද්ගලයෙක් තරුණයෙක් එක්ක පාරේ ගමන් කරමින් හිටියා. එයාලා දැක්කා කාසි පිරුණු මල්ලක් පාරේ බිම වැටිල තියෙනවා. තරුණයා ඉක්මනින් ඒක ඇහිඳගත්තා.

"මම මොන තරම් වාසනාවන්තද, මෙහෙම සල්ලි මල්ලක් ලබන්න." තරුණයා ආඩම්බරයෙන් කිව්වා. "එතකොට මහලු පුද්ගලයා මෙහෙම කිව්වා, ටිකක් සංවේදී වෙලා හිතන්න, අපි දෙන්නමනෙ ඕක හොයාගත්තේ."

"අපොයි නෑ... මට මේක අහුලගන්න ඔයාගේ උදව් වුවමනා වුණේ නැහැනේ" තරුණයා උත්තර දුන්නා.

ඒ කතාව අහපු මහලු පුද්ගලයා තවත් ඒ ගැන කතා කළේ නෑ. දෙන්නම ආයේ ගමන පටන් ගත්තා.

ටික වෙලාවකින් එයාලගේ පිටුපසින් අශ්ව කුර ගැටෙන සද්දයක් ඇහෙන්න ගත්තා, ඒ වගේම කවුද කෑගහන සද්දයකුත් ඇහුණා.

"ඒයි කවුද මගේ සල්ලි හොරකම් කරගෙන යන්නේ" ඒ කතාව ඇහුණු තරුණයා හොඳටම බය වුණා.

"මං ප්‍රාර්ථනා කරනවා අපිට ලැබුණු දේ නිසා අපි කරදරේ වැටෙන්න එපා කියලා." තරුණයා මහල්ලාට කිව්වා.

"මගේ උදව් නැතුව ඔයා ඒව ලබා ගත්තා, ඉතින් ඒකේ විපාක ලබන්න වෙන්නෙත් මගේ උදව් නැතුවයි"මහල්ලා උත්තර දුන්නා.

අශ්වාරෝහකයා තරුණයාව අල්ලාගෙන නගරයට ගියා නඩු අහන්න. මහලු පුද්ගලයා පාඩුවේ ගෙදර ගියා.



# එකමුතුකමේ පාඩම

එක තාත්තා කෙනෙක් එයාගෙ දරුවන්ට එකමුතුව සමගියෙන් ඉන්න කියලා දෙන්න මොන තරම් උපදෙස් දුන්නත් එහෙම වෙන බවක් දැක්කෙ නෑ. ඉතිං එයා එයාගේ ළමයි ටික කැඳෙව්වා. ඉලපතක් අතට දීලා, “කඩන්න මේ ඉලපත” කියලා අණ කළා.

හැමෝම තමන්ගෙ වාරෙ ආවහම ඉලපත දෙකට කඩන්න උපරිම උත්සාහ කළත් ඒ කාටවත් ඒක කඩාගන්න බැරි වුණා.

“හොඳයි, දැන් හැමෝම එකතු වෙලා ඒක කරන්න”

තාත්තා කිව්වා. එයාලා හැමෝම එකතු වෙලා බොහොම ලෙහෙසියෙන්ම ඉලපත කඩලා දැම්මා. තාත්තා ළමයින්ට කතා කළා.

“ඔයාලගේ කතාවත් ඔය වගේ තමයි, ඔයාලා එකමුතුව

සමගියෙන් ඉන්නකම් ඔයාල පරාජය කරන්න කාටවත් බෑ. ඒත් ඔයාලා තම තමන් ගැන තනියම හිතලා රණ්ඩු කරන්න ගියොත් ඕනෑම කෙනෙකුට ලේසියෙන්ම ඔයාල පරාජය කරන්න පුළුවන්.”



# වෘකයා සහ මහලු කත

බොහොම කුසගින්නෙන් ඉන්න වෘකයෙක් කෑම හොයාගෙන යන අතරමග උගට ඇහුණා ගම කෙලවරේ තියෙන පුංචි පැලක පුංචි බබෙක් අඬනවා. "ඔයාගේ ඔය ඇඬිල්ල නතර නොකළොත් මං ඔයාව වෘකයාට දෙනවා." කියලා කියන මහලු කාන්තාවකගෙ හඬකුත් උගට ඇහුණා. ඉතිං වෘකයා එතනම නතර වෙලා බබාව උගට බාරදෙනකම් බලාගෙන හිටියා. රෑ එළි වෙනතුරුත් බලාගෙන හිටියා,

ඔන්න ආයෙත් අර මහළු කාන්තාවගෙ කටහඬ ඇහුණා. "අඬන්නෙපා පුංචි පැටියෝ... අපි ඔයාව වෘකයට දෙන්නෙ නෑ. ඌ එක මිනිත්තුවකට හරි මෙතැනට අඩිය තිබ්බොත් අපි ඌව මරලා දානවා."

වෘකයට තේරුණා මේ මිනිස්සු කියන ජාතිය, කියන දේ නෙවෙයි කරන්නේ කියලා. ඉතිං ඌ යන්න ගියා.



# ගොවියා සහ ගඟුල් දෙවියන්

දවසක් ගොවියෙක් අතින් එයාගේ පොරව ගඟට වැටුණා.

තමන්ගේ අවාසනාව ගැන දුක්වුණු ගොවියා ගං ඉවුරට වෙලා වැළපෙන්න වුණා. ගඟේ හිටපු ගඟුල් දෙවියෝ මේ වැලපීම ඇහිලා දුක හිතිලා ගඟින් ඉහළට මතු වුණේ රත්තරන් පොරවක් අතේ තියාගෙනයි.

"මේකද ඔයාගේ පොරව" දෙවියා ඇහුවා.

"නෑ ඔය මගේ පොරව නෙමෙයි", ගොවියා උත්තර දුන්නා.

"එහෙනම් මේකද ඔයාගේ පොරව" දෙවෙනි වතාවටත් ඉහළට ආපු දෙවියා ඇහුවෙ රිදී පොරවක් පෙන්නලා. ඕකත් මගෙ නෙමෙයි, ගොවියා දුකින් කිව්වා. තුන්වෙනි වතාවේ ගොවියගෙම පොරව ගෙන විත් ඔහුට පෙන්නුවා.

"ආ...ඕක තමයි මගේ පොරව"



ගොවියගෙ අවංකකම ගැන සතුටු වුණු ගඟුල් දෙවියා පොරෝ තුනම ගොවියාට තෑගි කළා. ආපහු ගෙදර ගිය ගොවියා තමන්ට ලැබුණු වාසනාව ගැන යාළුවන්ට කිව්වා. ඒ කතාව අහං හිටපු වෙනත් ගොවියෙක්, මමත් ගිහින් ඒ විදිහටම පොරව තුනක් හොයාගන්න ඕනා කියලා හිතුවා. ඉතින් එයාගෙ පොරව අරන් ගිහින් ගඟට දැම්මා. ඊට පස්සෙ ඉවුරට වෙලා වැළපුණා. ගඟුල් දෙවියන්ට ඇහෙන්න. ගඟුල් දෙවියා ගඟෙන් ඉහළට මතු වුණා. මේකද ඔයාගේ පොරව රත්තරන් පොරව පෙන්නලා ඇහුවා. රත්තරන් පොරව දැකපු ගමන් ගොවියා කෑගැහුවා, "ඔව් ඔය තියෙන්නෙ මගේ පොරව" ගඟුල් දෙවියා නොපෙනී ගියා. ගොවියා අවංක වුණේ නැති නිසා එයාට එයාගේ පොරවවත් ආපහු ලැබුණේ නෑ.



# උගතා

නගරයේ ජීවත් වෙන තරුණයෙක් එයාගෙ තාත්තව බලන්න ගමට ගියා. එයාගේ තාත්තා එයාට කිව්වා, "මේ අස්වැන්න නෙළන කාලේ ඔයාටත් පුළුවන් අපිට උදව් වෙන්න. රේක්කය ගන්න. අපි වැඩ ටික ඉවර කරමු." කියලා.

ඒත් තරුණයාට වැඩ කරන්න ඕන වුණේ නෑ. ඉතින් එයා "රේක්කය කියන්නේ මොකක්ද මම විද්‍යාව ඉගෙනගන්න ගිය කාලෙම මට ඔය ගොවි උපකරණ අමතක වෙලා ගියා."

කියලා කිව්වා. වැඩි වෙලාවක් ගියේ නෑ මිදුලට යන්න හිතාගෙන ගිය එයා අඩිය තියල තිබුනෙ රේක්කය උඩටමයි. ඒක පැද්දිලා ඇවිත් එයාගේ නළල වැදුණා.

එයා නළල අතගාමින් මෙහෙම කෑගැහුවා.

"මොන මෝඩයාද මෙතන රේක්කයක් තිබ්බෙ"



# රොටි තුන සහ පාන් වළල්ල

දවසක් එක ගොවියෙකුට ලොකු බඩගින්නක් දැනුණා. ඉතින් එයා අවන්හලකින් පොඩි රොටියක් අරගෙන කෑවා. තවමත් එයාට බඩගිනියි. එයා තව රොටියක් කෑවා. ඒත් බඩගින්න නිවුනෙ නෑ. ඉතින් එයා තවත් රොටියක් අරගෙන කෑවා. බඩගින්න නැතිවෙන්නෙම නෑ. මේ වතාවේ එයා පාන් වළල්ලක් අරගෙන කෑවා.මේ වතාවෙ නම් එයාට තෘප්තිමත් බවක් දැනුණා.

ඉතින් එයා එයාගෙ අත්කරත්තයට නැගලා පොඩ්ඩක් ඇල වුණා. එහෙම ඉන්න ගමන් මෙහෙම කිව්වා.

"මම මොනතරම් මෝඩයෙක්ද රොටි තුනක්ම කන වෙලාවෙ, මුලින්ම පාන් වළල්ල කෑවානම් හරිනෙ."



# බළලා සහ සීනුව

බළලා ආව දා ඉඳලා මීයන්ට ලොකු තර්ජනයක් වුණා. දවසකට මීයො දෙතුන්දෙනෙක්වත් ඌ අල්ලගෙන කෑවා. ඉතින් මේ බළලාගෙන් බේරෙන්න උපායක් හොයාගන්න, මී රංචුව රැස්වීමක් සංවිධානය කළා. මීයෝ කොච්චර කතා කළත් බළල් කරදරයෙන් බේරෙන්න ක්‍රමයක් හොයාගන්න බැරි වුණා.

අන්තිමට එක මීයෙක් යෝජනාවක් ගෙනාවා. “මම දන්නවා කරන්න ඕනා දේ, අපිව ඔය බළලට ගොදුරු වෙන්නෙ ඌ අපි ළඟට එනකම් අපිට ඒ බව දැනෙන්නේ නැති නිසා, අපි උගේ බෙල්ල වටේට සීනුවක් බඳිමු, එතකොට ඌ යන යන තැන සීනු හඬ ඇහේවි, ඌ අපි කිට්ටුවට එනකොට අපිට පැනලා දුවන්න පුළුවන්.”

“ඒ අදහස නම් හොඳයි, ඒත් කවුරු හරි ඉස්සෙල්ලම සීනුව බළලාගේ කරේ බඳින්න වෙනවා.

ඔයාට ඒ කොටසත් කරන්න පුළුවන් නම් අපි ගොඩක් ස්තුතිවන්ත වෙනවා.” මහලු මීයෙක් මේ කතාව අහගෙන ඉඳලා කිව්වා.



# වෘකයා සහ ලේනියා

අත්තෙන් අත්තට පැන පැන ගිය ලේනියක් අත්වැරදීමකින් ගහක් යට නිදාගෙන හිටපු වෘකයාගේ ඇඟ උඩට වැටුණා. වෘකයා එකපාරටම පැනලා ලේනි අල්ලගෙන කන්න ලෑස්ති වුණා.

"අනේ මාව කන්න එපා." ලේනිය පිංසෙන්ඩු වුණා.

"හොඳයි මම උඹට යන්න දෙන්නම්, හැබැයි උඹ මට කියලා දෙන්න ඕන, ලේන්නු කොහොමද ඔච්චර සතුටින් විනෝදයෙන් ඉන්නේ කියලා. මම නම් මුළු දවසම හරි කම්මැලිකමින් ඉන්නේ,

ඒත් මම උඩ බලන හැම වෙලාවෙම උඹලා බොහොම සතුටින් විනෝදයෙන් ඉන්නවා." වෘකයා කිව්වා.

"මුලින්ම මට අර ගහට යන්න ඉඩ දෙන්න, ඊට පස්සේ මම ඒ ගැන

කියලා දෙන්නම්, මොකද මම හොඳටම බයවෙලයි ඉන්නේ." ලේනිය ඉල්ලුවා. වෘකයා ඇට යන්න දුන්නා. ඉක්මනටම ගහකට පැනගත්තු ලේනිය වෘකයාට මෙහෙම කිව්වා.

උඹේ දුෂ්ටකම නිසා තමයි මුළු දවසම කම්මැලිකමක් දැනෙන්නේ, නිතරම කාට හරි අනතුරක් හිරිහැරයක් කරන්නම බලන ඔය දුෂ්ටකම උඹේ හදවත කාලා දාලා. ඒත් අපි නිතරම සතුටින් විනෝදයෙන් ඉන්නෙ, කාටවත් කරදරයක් හිරිහැරයක් නොකර හැමෝටම කරුණාවෙන් සළකන නිසයි.



# ගොවියා සහ වාසනාව

ලෝකෙ වටේ සංචාරය කරමින් යන වාසනාව, එක දවසක් තණකොළ කපන තැනකට ආවා. ඒත් එයා දැක්කේ තණකොළ කැපිල්ල පැත්තකින් තියලා හොඳට නිදාගෙන ඉන්න ගොවියෙක්. ඉතිං වාසනාව ආපහු අහසට නැගුණා, මෙයා මෙතන වැඩක් නොකර හොඳටම නිදි. මේ හොඳ කාලගුණය තියෙන වෙලාවේ පිදුරු ටික එකතු කරගන්න මෙයාට බැරි වේවි, ඊට පස්සේ මං ගැන කියාවි, මට වාසනාව නෑ" කියලා.



# බයගුල්ලෝ

එක දවසක් හාවො රංචුවක් රැස්වෙලා එයාලගේ ජීවිත ගැන කතා කළා. "උකුස්සෝ, බල්ලෝ, මිනිස්සු නිතරම අපිව දඩයම් කරනවා. අනිත් සත්තු උනත් අපිට සලකන්නේ එහෙමමයි, වෙනසක් නෑ. ඇයි අපි මෙහෙම බයෙන් ජීවත් වෙන්නේ, මේක හරිම පීඩාවක්. මේ සේරම එකපාරම ඉවරයක් වෙලා යනවා නම් හොඳයි, ඉතිං අපිම ගිහින් මේක ඉවරයක් කරගමු."

එහෙම කතා වුණු හාවෝ රංචුව විලට පැනලා මැරෙන්න හිතාගෙන විල පැත්තට දිව්වා. හාවෝ රංචුව දුවගෙන එන සද්දෙ ඇහිලා කලබල වුණු විල ඉවුරේ හිටපු ගෙම්බො රංචුව "ජබු ජබු" ගාලා වතුරට පැන්නා. ඒ බව දැකපු එක හාවෙක් අනිත් අයට මෙහෙම කිව්වා.

"නවතින්න යාළුවනේ, අපි හදිස්සි වෙන්න හොඳ නෑ. බලන්න මේ ගෙම්බො දිහා, එයාලා ගෙවන්නෙ අපිටත් වඩා අන්ත ජීවිතයක්. කොටින්ම එයාලා හාවෝ වෙච්ච අපිටත් බයයි.



# හිවල් රාළ සහ කොක් හාමි

හිවල් රාළ, කොක් හාමිට දහවල් කෑමකට එයාගෙ ගෙදරට එන්න කියලා සුප් දීසියක් පිළිගැන්වූවා. කොක් හාමිගේ දිග හොට නිසා එයාට ඒකේ තිබුණු කිසි දෙයක් කන්න වත් බොන්න වත් බැරි වුණා. හිවල් හාමි එතන තිබුණු හැම දේම කාලබීල ඉවර කළා.

කොක්හාමිත් හිවල් රාළට කෑමකට එයාගේ ගෙදර එන්න කිව්වා. එයා හිවලට කෑම පිළිගැන්නුවේ පුංචි කටක් තියෙන දිග කරක් තියෙන උස භාජනයක. හිවල් රාළගේ හොම්බ ඒ භාජනේට දාන්න බැහැ. ඉතින් කොක් හාමි සේරම කෑම ටික කෑවා.





ලියෙව් තොල්ස්තෝයි

# යාළුවෝ දෙන්නෙක්

චිත්‍ර - එම්. ස්කොබ්ලෙව්

අනුවාදය - සුමින්ද චම්පික







**wwww.kadullabooks.com**

රාක්කය: ළමා පින්තූර පොත්, සුරාංගනා කතා, ළමා ප්‍රබන්ධ

ISBN 978-624-5509-60-7

9 786245 509607

pinterest.com/kadullapublishers

facebook.com/kadullapublishers

twiter.com/KadullaBooks

+94772583942



කඩුල්ල
ප්‍රකාශන

Printed in China



LKR 750.00
USD 3.99